9406



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2560 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016(2017) S4

## (04) බෞද්ධ සංස්කෘතිය

පැ. තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් හතරකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න එකක් වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස

1. (i) විවිධ දාන වර්ග නම්කොට සංඝික දානය හා ඊට අදාළ පුද සිරිත් විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) ධර්ම දානය හඳුන්වා, සියලු දානයන්ට වඩා එය උසස් කොට සැලකීමේ හේතු සාධක දක්වන්න. *(ලකුණු 06 යි)*

   (iii) ධර්ම දේශනයක් පැවැත්වීමේ දී දේශකයන් වහන්සේලා අනුගමනය කරන පොදු චාරිත්‍රානුගත පිළිවෙළ පහදන්න. *(ලකුණු 08 යි)*

2. (i) පිරිත් යනු කවරේදැයි හඳුන්වා, පිරිත් දේශනාවේ අරමුණ පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) පිරිත් දේශනාවේ ආරම්භය දක්වා ලක්දිව පැරණි නරපතියන් හා ප්‍රභූවරුන් පැවැත් වූ පිරිත් පිංකම් ගැන සමාලෝචනයක් කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) පිරිත් දේශනා පැවැත්වීමේ දී අනුගමනය කෙරෙන චාරිත්‍ර හඳුන්වා, පිරිත් දේශනයක ඇතුළත් අංගෝපාංග පිළිබඳ වර්ගීකරණයක් කරන්න. *(ලකුණු 08 යි)*

3. (i) කුලදරුවෙකු පැවිදි කිරීමේ දී හා උපසම්පදා කිරීමේ දී අනුගමනය කෙරෙන චාරිත්‍ර විධි පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) පැවිද්දා විසින් අනුගමනය කළ යුතු දෛනික චාරිත්‍ර විධි හඳුන්වන්න. *(ලකුණු 06 යි)*

   (iii) සිව්පසය පරිභෝජනයේ දී පැවිද්දා අනුගමනය කළ යුතු පොදු චාරිත්‍ර පැහැදිලි කරන්න. *(ලකුණු 08 යි)*

### II කොටස

4. (i) ලක්දිව චෛත්‍ය නිර්මාණයේ ආරම්භය හා විකාසය පිළිබඳ විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) චෛත්‍යයක ඇතුළත් විය යුතු අංගෝපාංග කවරේදැයි පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) විවිධ චෛත්‍ය ආකෘති හඳුන්වා, මෙයින් ලක්දිව වඩාත් ව්‍යාප්ත වූයේ කවර චෛත්‍ය ආකෘති දැයි නිදසුන් මගින් අනාවරණය කරන්න. *(ලකුණු 08 යි)*

5. (i) බුදුපිළිම වර්ග හඳුන්වා, ලක්දිව දක්නට ලැබෙන ඓතිහාසික බුදුපිළිම ගැන විග්‍රහයක් කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) ලක්දිව දක්නට ලැබෙන බෝධිසත්ත්ව ප්‍රතිමා ගැන විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) පොළොන්නරු යුගයට අයත් බිතුසිතුවම් ගැන විමර්ශනයක් කරන්න. *(ලකුණු 08 යි)*

[ 2 වැනි පිටුව බලන්න.

## III කොටස

6. (i) පැරණි සිංහල සාහිත්‍යයෙහි වස්තු විෂය වූයේ කවර කරුණු දැයි නිදසුන් මගින් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(ii) ජාතක කථා වස්තු තෝරා ගැනීමට සිංහල පද්‍ය කවීන් ඇදී ගිය ආකාරය අභිමත පද්‍ය කවීන් තිදෙනෙකු ආශ්‍රයෙන් විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

(iii) සද්ධර්ම රත්නාවලියෙහි අරමුණ හා වස්තු විෂය හඳුන්වා, පොදු ජනතාව උදෙසා ලියූ බණ පොතක් වශයෙන් එහි පවත්නා අගය විමසීමට ලක් කරන්න. *(ලකුණු 08 යි)*

7. (i) විවිධ ආගමික වස්තු පාදක කොට ගෙන පැරණි සිංහල ලේඛකයන් රචනා කළ වංසකථා පිළිබඳ විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) පන්සිය පණස් ජාතක පොත් වහන්සේ සිංහල පාඨකයාගේ සම්භාවනාවට පාත්‍රවීමට බල පෑ හේතු විමර්ශනය කරන්න. *(ලකුණු 06 යි)*

(iii) සිංහලයේ පැරණි ගී කාව්‍ය ගැන හැඳින්වීමක් කරන්න. *(ලකුණු 08 යි)*

## IV කොටස

8. (i) මියන්මාරයට (බුරුමයට) බුදුදහම හඳුන්වා දීම පිළිබඳව පවත්නා මතවාද විමර්ශනය කරන්න. *(ලකුණු 06 යි)*

(ii) මියන්මාරයෙහි (බුරුමයෙහි) ඇති කල්‍යාණි ශිලාලිපිවල පවත්නා ශාසනික වැදගත්කම පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(iii) වර්තමාන මියන්මාරයෙහි (බුරුමයෙහි) දක්නට ලැබෙන භික්ෂු නිකාය නම් වශයෙන් හඳුන්වා ඒවායේ පෙනෙන අනන්‍යතා ලක්ෂණ දක්වන්න. *(ලකුණු 08 යි)*

9. (i) ක්‍රි. ව. 1425 දී සියම් භික්ෂූන්ගේ සහභාගිත්වයෙන් ලක්දිව කැලණියේ පැවති මහා උපසම්පදා උලෙළ විස්තර කොට, ඒ සඳහා අනුග්‍රාහකත්වය සැපයූ ශ්‍රී ලාංකේය ගිහි පැවිදි නායකයන් හඳුන්වන්න. *(ලකුණු 06 යි)*

(ii) චීනයේ භික්ෂුණී ශාසනයේ ආරම්භය සඳහා ශ්‍රී ලංකාවෙන් ලැබුණු දායකත්වය අගයන්න. *(ලකුණු 06 යි)*

(iii) චීනයේ 'සුඛාවතී ව්‍යූහ' බෞද්ධ නිකාය ගැන හෝ ජපානයේ 'නිචිරෙන්' බෞද්ධ නිකාය ගැන හෝ විස්තරයක් කරන්න. *(ලකුණු 08 යි)*

* * *